ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**47 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)

| | |
|---|---|
| සිංහල සාහිත්‍ය රසාස්වාදය | I, II |
| இலக்கிய நயம் சிங்களம் | I, II |
| Appreciation of Sinhala Literary Texts | I, II |

## සිංහල සාහිත්‍ය රසාස්වාදය - II පත්‍රය

※ **පළමුවන** ප්‍රශ්නය ද, **2, 3, 4, 5** ප්‍රශ්නවලින් තෝරාගත් ප්‍රශ්න **දෙකක් ද ඇතුළු ව ප්‍රශ්න තුනකට** පිළිතුරු සපයන්න.

※ මෙම පත්‍රය සඳහා පිළිතුරු සැපයීමට පිළිතුරු ලියන පොත භාවිත කරන්න.

**1.** පහත සඳහන් පැදි පෙළ කියවා දී ඇති ප්‍රකාශ උපයෝගී කොට ගෙන, වචන **200**කින් පමණ රසාස්වාදයක් ලියන්න.

ගොවේ කන්දෙ මූකලාන කම්පා කරමින්නේ
රුක්සයෙකි රැ පාළුව බිඳගෙන ඇද වැටුණේ
අව තින්දෙ ම පත් පැදුරට උණු කඳුළක් හැලුණේ
මූකලාන පස් වැටියක් වී හීනෙන් පෙනුණේ

යස දරුවන් ගෙන ඇකයෙන් නැපුවත් නොසැලෙන්නේ
දුක් කරදර කෝටියක් ම ගිලගෙන හිනැහෙන්නේ
සියතින් මර විපත කටින මිනිසුන් දකිමින්නේ
මහා පුරුෂයකු වාගේ කන්ද නැගී ඉන්නේ

පිරුණු ලොරිය ගම් දොරකඩ පියමං කර යනවා
පාර වුණත් හිරිනැරයක් නෑ මගෙ නිදියනවා
පැලේ වහල ඇද හැළිලා මාසයක් ම වෙනවා
පරාල තුනකට අයියා හිරේ නූනං එනවා

පොරොව, කියත කලුවරේ ම පණ ආවා ලෙසිනේ
මගෙ ඇඟ උඩ පට්වල් බැඳ කපනු ඉරනු වැන්නේ
දෙයියන්ගේ මල්ලිලාට දෙවියො ම රැවෙන්නේ
කාන්තාර ගම මායිම් නවත් පුළුල් වෙන්නේ

(අ) මෙම පැදි පෙළට පාදක වූ අත්දැකීම
(ආ) එම අත්දැකීම ප්‍රතිනිර්මාණය සඳහා කවියා යොදා ගත් සිද්ධි හා අවස්ථා
(ඉ) මෙම පද්‍ය පන්තියේ භාෂා භාවිතය
(ඊ) මෙම පද්‍ය නිර්මාණයේ භාවිත ආකෘතිය
(උ) සමාජයේ පවතින ඇතැම් අකටයුතු කෙරෙහි කවියා දක්වන විරෝධය (ලකුණු 06 × 5 = 30යි.)

කවිය

2. සජීවී අවස්ථා නිරූපණයෙහි ලා සද්ධර්මරත්නාවලී කතුවරයා සතු හැකියාව නන්ද තෙරුන් වහන්සේගේ වස්තුවෙන් උදාහරණ **තුනක්වත්** සපයමින් පහදන්න. (ලකුණු 15යි.)

3. දේශාභිමානී හැඟීම් ඇතිවීම සඳහා උචිත ලෙස බස හැසිරවීමට 'පුතු ඉපදුණු මේ දෙරණේ' පද්‍ය නිර්මාණයේ රචකයා දැක් වූ සමත්කම නිදසුන් **තුනක්වත්** දෙමින් විමසන්න. (ලකුණු 15යි.)

4. "තම පුතුගේ වියෝව හේතුවෙන් වේදනාවට පත් වූ පියෙකුගේ චරිතය 'වැලපීම' කෙටිකතාවෙන් නිරූපණය වේ." නිදසුන් **තුනක්වත්** ඇසුරින් පහදන්න. (ලකුණු 15යි.)

5. "මහින්ද හිමියෝ, 'යුතුකම' පද්‍ය පන්තියෙන් සමකාලීන සමාජය තියුණු විචාරයට ලක් කරති." නිදසුන් **තුනක්වත්** දක්වමින් විමසන්න. (ලකුණු 15යි.)

* * *